08709



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2558 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2014 (2015)



## (03) ශාසන ඉතිහාසය

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **දෙකකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න **දෙකක්වත්** ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (අ) "ඉසිපතන මිගදායේ දී ශ්‍රාවකයන් පස්දෙනෙකුට තම ප්‍රථම ධර්මදේශනය ඉදිරිපත් කරමින් බුදුරජාණන් වහන්සේ තම ශාසනික මෙහෙවර ආරම්භ කළ සේක." එම දේශනය හා ශ්‍රාවක පිරිස නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ආ) "එකල පැවති ග්‍රාම්‍ය වූ හා අනාර්ය වූ ජීවන මාර්ග දෙකෙන් බැහැර වන ලෙසත් පියවර අටකින් යුත් ජීවන මාර්ගයකට පිවිසෙන ලෙසත් බුදුරජාණන් වහන්සේ එම පිරිසට වදාළ සේක." එකී අත්හළ යුතු මාර්ග දෙකත් අනුගමනය කළ යුතු නව ජීවන මාර්ගයේ පියවර අටත් නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ඉ) 'තම ශාසනික මෙහෙවර ආරම්භ කරමින් බුදුරදුන් ඉදිරිපත් කළ ප්‍රථම ධර්ම දේශනයෙහි උන්වහන්සේ සිය ශාසනික මෙහෙවරෙහි මූලික තේමාව ඉදිරිපත් කළහ.' යන ප්‍රකාශය එම දේශනය ඇසුරින් කරුණු දක්වමින් තහවුරු කරන්න. *(ලකුණු 08 යි)*

2. (අ) "බුදුරජාණන් වහන්සේ අදාළ උපදෙස් දී ප්‍රථම ධර්මදූත කණ්ඩායම ශාසනික මෙහෙවරට යොමු කළහ." එම ධර්මදූත කණ්ඩායම නම්කොට ඔවුනට දුන් උපදේශය කෙටියෙන් දක්වන්න. *(ලකුණු 06 යි)*

   (ආ) බුදුසසුනේ ප්‍රථම ධර්මදූත සේවාවට අදාළව බුදුරදුන්ගේ ශාසනික මෙහෙවර, ධර්මදූත සේවාවේ අරමුණු හා ධර්මදූත මෙහෙවර සිදුකළ ආකාරය විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

   (ඉ) "බුදුරදුන්ගේ ශාසනික මෙහෙවර චින්තන විප්ලවයකට මග සැලසෙන විවිධ තරාතිරම්වල සාමාජිකයන් ආකර්ෂණය කරගන්නා සුලු ක්‍රියා පිළිවෙළක් විය." ශාසනයට එක් වූ පිරිස්, ඊට පාදක වූ බුදුරදුන්ගේ මහාකරුණා ආදී පෞරුෂ ලක්ෂණ, උන්වහන්සේ භාවිත කළ සන්නිවේදන ශිල්ප ක්‍රම ආදිය නිදර්ශන කරමින් උක්ත ප්‍රකාශය සනාථ කරන්න. *(ලකුණු 08 යි)*

3. (අ) "ධර්ම සංගායනා පැවැත්වීමේ වැදගත්කම බුදුරදුන් විසින් ඉදිරිපත් කරන ලද බවත්, සැරියුත් හිමියන් විසින් සංගායනාවක මූලික කටයුතු සිදුකර ඇති බවත් සූත්‍ර දේශන, ඇසුරින් ප්‍රකට වේ." එම සූත්‍ර තුනක නම් සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

   (ආ) ප්‍රථම ධර්ම සංගායනාව පැවැත්වීමට තුඩු දුන් ආසන්න හේතුව හා ඊට පසුබිම් වූ තවත් ශාසනික සිදුවීම් කිහිපයක් දක්වන්න. *(ලකුණු 06 යි)*

   (ඉ) ප්‍රථම ධර්ම සංගායනාවට මූලික වූ තෙරවරුන්, සහභාගි වූ සංඛ්‍යාව, ස්ථානය, රාජානුග්‍රහය, සංගායනාවට විෂය වූ කරුණු හා එහි ප්‍රතිඵල යන කරුණු විස්තර වන සේ හැඳින්වීමක් කොට එයින් බුද්ධ ශාසනයේ චිරස්ථිතිය සැලසුණු ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

4. (අ) ථෙරවාදී වාර්තාවලට අනුව වජ්ජි රටෙහි භික්ෂූන් වහන්සේලා විසින් කැපයැයි සම්මත කරගත් කරුණු දහය නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ආ) "අකැප දස වස්තුවෙහි ඇතුළත් වන්නේ දිවිපැවැත්ම පිළිබඳ කරුණු මිස බෞද්ධ දර්ශනය පිළිබඳ කරුණු නොවේ" යන කියමන පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (ඉ) දස වස්තුව පිළිබඳ ගැටලුව නිරාකරණය කොට දෙවැනි ධර්ම සංගායනාව පැවැත් වූ ආකාරයත් එහි ප්‍රතිඵලත් පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

[ දෙවන පිටුව බලන්න.

## II කොටස

5. (අ) තුන් වැනි ධර්ම සංගායනාවෙන් පසු ලංකාවට එවන ලද ධර්මදූත කණ්ඩායම නම් කරන්න. (ලකුණු 06 යි)

(ආ) "මහරජ අපි ධර්මරාජයාණන් වහන්සේගේ ශ්‍රාවකයෝ වෙමු. ඔබට ම අනුකම්පාවෙන් දඹදිව සිට මෙහි පැමිණියෙමු" යන ප්‍රකාශය කවුරුන් විසින් කාහට කුමන ස්ථානයක දී පවසන ලද්දක් ද? (ලකුණු 06 යි)

(ඉ) ධර්මදූත කණ්ඩායම ලක්දිව පාලකයා මුණගැසුණු අවස්ථාවේ සිට අරිට්ඨ ඇමතිතුමාගේ පැවිදිවීම තෙක් සිදු වූ සිද්ධි පිළිවෙළින් විස්තර කරන්න. (ලකුණු 08 යි)

6. (අ) ලක්දිව ඉදිකරන ලද ප්‍රථම දාගැබත්, එය කර වූ රජතුමාත්, එහි නිදන්කරන ලද ධාතූන් වහන්සේත්, ඒවා වඩමවා දුන් හිමියනුත් නම් කරන්න. (ලකුණු 06 යි)

(ආ) ථූපාරාම විනය සංගායනාව පිළිබඳ විස්තරයක් කොට එහි ප්‍රතිඵල අගය කරන්න. (ලකුණු 06 යි)

(ඉ) "මහින්දාගමනය සිංහල බෞද්ධ සංස්කෘතියෙහි ආරම්භයයි" යන ප්‍රකාශය විමසුමට ලක් කරන්න. (ලකුණු 08 යි)

7. (අ) ලක්දිව මෙහෙණිසස්න පිහිටුවීම පිළිබඳ තොරතුරු සැපයෙන මූලාශ්‍රය **තුනක්** නම් කරන්න. (ලකුණු 06 යි)

(ආ) සංඝමිත්තා තෙරණියත් සමග මෙහෙණිසස්න පිහිටුවීමට ලක්දිවට වැඩම කළ භික්ෂුණීන් වහන්සේලා **සයනමක්** නම් කරන්න. (ලකුණු 06 යි)

(ඉ) "ආරම්භයේ දී ම මහත් දියුණුවක් ප්‍රකට කළ ලක්දිව භික්ෂුණී ශාසනය අනුරාධපුර යුගයේ බිඳවැටීමත් සමග පරිහාණියට පත්විය" යන ප්‍රකාශය විමසුමට ලක් කරන්න. (ලකුණු 08 යි)

8. පහත සඳහන් මාතෘකා අතරින් **හතරක්** තෝරාගෙන කෙටි සටහන් ලියන්න.

(i) ගන්ධාර ජනපදය

(ii) අජාසත් රජතුමා

(iii) දෙව්දත් තෙරුන්ගේ වරපස

(iv) ආනන්ද හිමියන්ට එල්ල වූ චෝදනා

(v) අනුරපුරයේ ජයසිරි මහබෝ සමිඳු

(vi) මහාථූපය

(vii) මහාවිහාරය

(viii) මහනුවර දළදා මැඳුර

(ලකුණු 05 × 4 = 20 යි)

***